මුද්දර නිවේදන අංක
முத்திரைச் செய்தித்தாள் இல.
Stamp Bulletin No. } 539 A

සමරු නිකුත් කිරීම
ஞாபகார்த்த வெளியீடு
**Commemorative Issue**




# ස්‍යාමෝපාලි මහා නිකායේ 250 වැනි සංවත්සරය
## சியாமோபாலீ மஹா நிகாயவின் 250 வது ஆண்டு நிறைவு
## 250th Anniversary of Syamopali Maha Nikaya

**2003.07.13**

**Philatelic Bureau**
Department of Posts,
No. 27, M. I. C. H. Building, Bristol Street,
Colombo 00100,
SRI LANKA.

මුද්දර කාර්යාංශය,
තැපැල් දෙපාර්තමේන්තුව.
අංක 27. යෝ.ඉ.සං.නි..
බ්‍රිස්ටල් වීදිය.
කොළඹ 00100.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
சோ. இ. க. நி. கட்டடம்,
இல. 27, பிரிஸ்டல் வீதி,
கொழும்பு 00100.

තැපැල් දෙපාර්තමේන්තුව,
ට්‍රාන්ස්වර්ක්ස් මන්දිරය,
කොළඹ 00100.

ස්‍යාමෝපාලි මහා නිකායේ 250 වැනි සංවත්සරය සැමරීම වෙනුවෙන් මල්වතු මහා විහාර පාර්ශ්වය නියෝජනය කරමින් රු. 4.50 ක වටිනාකමින් යුත් නව තැපැල් මුද්දරයක් තැපැල් දෙපාර්තමේන්තුවේ මුද්දර කාර්යාංශය විසින් 2003 ජුලි මස13 වැනි දින නිකුත් කරනු ලැබේ.

ද්වීප චක්‍රවර්ති ධර්මාශෝක මහරජාණන්ගේ අනුග්‍රහය ඇතිව මොග්ගලීපුත්තතිස්ස මහ රහතන් වහන්සේ ප්‍රධාන දහසක් මහ රහතන් වහන්සේගේ සහභාගිත්වයෙන් පාටලී පුත්‍ර නගරයෙහි පැවැත්වුණු තුන්වැනි ධර්ම සංගායනාවේ ප්‍රතිඵලයක් වශයෙන් ශ්‍රී බුද්ධ වර්ෂ 236 (ක්‍රි. පූ. 207) දී සැදැහැති දේවානම්පියතිස්ස මහරජතුමන්ගේ සහයත්වයෙන් මහා ක්ෂීණාශ්‍රව මිහිඳු මාහිමිපාණන් වහන්සේ ශ්‍රී ලංකා ද්වීපයෙහි උතුම් වූ සම්බුද්ධ ශාසනය පිහිටුවා වදාළ හ..

මිහිඳු මාහිමියන් විසින් අනුරාධපුර මහා විහාරය ඇතිකිරීමෙන් ද අරිට්ඨ ආදී රාජවාංශික පිනැතියන් පැවිදි කිරීමෙන්ද පසුව, ප්‍රථම උපසම්පදා විනය කර්මය සිදු කිරීමෙන් පසු ලංකා ද්වීපයෙහි සම්බුද්ධ ශාසනය ක්‍රමයෙන් වැඩිදියුණුවට පත්විය. එදා ආරම්භ කළ එම භික්ෂු පරම්පරාව "මහා විහාර වංශික" නම් වූහ.

අනුරාධපුර මහා විහාරය මූලස්ථාන කොට ගත් ලංකේය ථෙරවාදී මහා විහාර වංශික භික්ෂු පරපුර ඇතැම් අවස්ථාවන්හි දී එළැඹි විවිධ දුෂ්කරතා මධ්‍යයෙහි වුව ද ජාතික මාර්ගෝපදේශකත්වය ලබා දෙමින් ධර්ම-විනය, ශබ්ද, ශාස්ත්‍ර, චාරිත්‍ර-වාරිත්‍ර, සාහිත්‍ය කලා ශිල්ප, විහාරස්ථාන, පූජ්‍ය වස්තූන් සංරක්ෂණයෙහි, අභිවර්ධනයෙහි හා නිර්මාණයෙහිද උත්සුක වූහ.

ශ්‍රී ලංකාද්වීපවාසී නර ශ්‍රේෂ්ඨයෝ ප්‍රමුඛ කොට ගත් සිංහලයෝ බුද්ධ ධර්මය අසා ප්‍රමුදිතව බෞද්ධ ප්‍රතිපත්ති පූරණයට උත්සුක වූහ.

මහ මෙවුනා උයනේ මහා විහාරය පිහිටුවීම, සර්වඥ ධාතූන් හා ශ්‍රී මහා බෝධීන් වහන්සේ වැඩමවීම, ශ්‍රී දළදා වහන්සේ වැඩමවීම, ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීම, වෙහෙර විහාර ඉදිවීම, ශ්‍රී ලාංකිකයන්ගේ ප්‍රබෝධයට තවදුරටත් හේතු වූ කරුණු විය. ලංකා ඉතිහාසයෙහි මහා

විහාර වංශික භික්ෂූන් වහන්සේගේ මෙම ශාසනික සේවාව සාර්ථක වූ බව කිව හැක්කේ සිංහලයා මහත් උත්සාහයෙන්, ගෞරවයෙන් බෞද්ධ ප්‍රතිපත්ති රැකගත් හෙයිනි. එමෙන් ම බුද්ධ ධර්මයෙහි මුල් ස්වරූපය වූ ථෙරවාදය නිකායාන්තර මතයන්ගෙන් ආකූල නොවී ආරක්ෂා වීම ද සිදු විය.

ශ්‍රී ලංකා ශාසන ඉතිහාසයෙහි ඇතැම් අවස්ථාවලදී ශාසනය ඉතා උද්දීප්තිමත්ව පැවැති අතර අභ්‍යන්තර හා බාහිර උපද්‍රවයන්හි බලපෑම නිසා ඇතැම් අවස්ථාවන්හිදී ශාසනය පරිහානියට පත්විය. පොළොන්නරු රාජධානි සමයේ සිට මෙරට සද්ධා බුද්ධි සම්පන්න රජ දරුවන්ගේ උත්සාහයෙන් යළි යළිත් ශාසන පුනරුද්දීප්තිය සිදු කිරීමට හැකි විය.

සීතාවක රාජසිංහ රජු හා ප්‍රතිකාල් රජුන්ගේ අධාර්මික දුර්නීති ආදිය නිසාද දේශපාලන, ආර්ථික, සමාජ හේතූන් නිසාද, සීතාවක රාජධානි සමයේ සිට ඉමහත් ශාසන පරිහානියක් සිදු විය. "අච්ඡින්නව පැවැති පොත පත හා මහා ස්ථවිරාදී මහා සංඝයාත් නසා සමනල උපදනා ලාභයන් ආඬින්ට පාවාදීම වැනි ශාසන විරෝධී ක්‍රියාවන් කළ හෙයින් මේ රජ දවස (සීතාවක රාජසිංහ) ලක්දිව බොහෝ කලක පටන් පරම්පරාගතව පැවත ආ ශාස්ත්‍ර ධර්ම පොත් පත් ආදියත් උපසම්පදා ආදී වූ නොයෙක් ශාසන කෘත්‍යයත් නැතිවිය." යනුවෙන් "ස්‍යාමෝපසම්පදාවත" නැමැති කෘතියෙහි මේ පිළිබඳව කරුණු සඳහන් වේ.

මෙම ශාසන පරිහානිය පිළිබඳව අපමණ වේදනාවට පත් වැලිවිට සරණංකර සාමණේරයන් වහන්සේ අප්‍රමාණ වෙහෙස දරමින් ධර්ම විනය, ශබ්ද ශාස්ත්‍රාදිය ඉගෙන පිණ්ඩපාතිකාංශ වැනි ශාසන පිළිවෙත් යළි ගොඩනංවාලමින් සිල්වත් සමාගම ද පිහිටුවා ගෙන එවකට සිංහලයේ රාජ්‍ය කළ කීර්ති ශ්‍රී රාජසිංහ මහරජතුමාගේ ද ස්‍යාමදේශයෙහි අයෝධ්‍යාපුර පරම ධාර්මික මහරජතුමන්ගේ ද පූර්ණ අනුග්‍රහයෙන් ව්‍යවහාර වර්ෂ 1753 ක් වූ ඇසළ මස පුර පසළොස්වක පොහෝ දින ස්‍යාමදේශාගත ප්‍රවර උපාලි මහා ස්වාමීන්ද්‍රවර ප්‍රමුඛ අතිරේක දස වර්ගික මහා සංඝයා වහන්සේ ශ්‍රී සෙඩබණ්ඩ ශෛලාභිධාන ශ්‍රී වර්ධනපුර (මහනුවර) මල්වතු වහා විහාරයීය විසුංගාම සීමාවේදී සරණංකර සාමණේරයන් ද ඇතුළු මල්වතු-අස්ගිරි උභය මහා විහාරයෙහි සාමණේරයන් වහන්සේලා පස් නමක් උතුම් වූ උපසම්පත්තියෙහි පිහිටුවනු ලැබීය. එම අසිරිමත් ශාසන කර්තව්‍යය මෙරට වර්තමාන ශාසන පුනරුද්දීප්තියෙහි මෙන්ම ජාතික-ආගමික-



සමාජීය-සංස්කෘතික හා අධ්‍යාපනික ප්‍රබෝධයෙහි පුනරුද්දීප්තිය ඇරඹූ ඓතිහාසික වැදගත් අවස්ථාව විය.

එදා සිට 2003 ඇසළ පුන් පොහෝ දිනට වසර 250 ක් සම්පූර්ණ වේ.

## මුද්දරය පිළිබඳ විස්තරය


| | | |
|---|---|---|
| නිකුත් කරන දිනය | : | 2003 ජූලි මස 13 වැනි දින |
| වටිනාකම | : | රු. 4.50 |
| සැලසුම්කරු | : | පාලිත ගුණසිංහ |
| ප්‍රමාණය | : | 41 x 30 මි.මී. |
| හැඩය | : | තිරස් |
| මුද්‍රණ ක්‍රමය | : | ඕෆ්සෙට් ලිතෝග්‍රැෆි |
| පත් සැකැස්ම | : | පත්‍රිකාවක මුද්දර 100 බැගින් |
| සිදුරු ප්‍රමාණය | : | 14 |
| මුද්‍රණකරුවෝ | : | රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව |
| වර්ණ (පාවිච්චි කළ) | : | හතරකි |
| කඩදාසි | : | 102 ජී. එස්.එම්. ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| මැලියම් | : | පීවීඒ |
| මුද්‍රණය කළ ප්‍රමාණය | : | 10,00,000 |

அஞ்சல் திணைக்களம்,
திறான்ஸ் வேர்க்ஸ் ஹவுஸ்,
கொழும்பு 00100.

இலங்கையில் உயர்நிலைக் குரு அபிடேக முறை அறிமுகப்படுத்தப்பட்டு 250 ஆண்டுகள் பூர்த்தியடைவது ஞாபகார்த்தமாக மல்வத்த திருக்கட்டளைப் பிரிவினரின் சார்பில் ஒழுங்கு செய்யப்பட்டுள்ள வைபவங்களிலொன்றாக அஞ்சல் திணைக்களத்தின் முத்திரைப் பணியகம் ரூபா 4.50 இனப் பெறுமதியில் ஒரு புதிய அஞ்சல் முத்திரையை பொசன் பூரணை தினமாகிய 2003, யூலை 13 ஆந் திகதி வெளியிடும்.

மூன்றாவது தம்மசங்கயான, பட்டலிபுத்திரவில், மன்னன் தீப சக்கரவர்த்தி தர்மசோகா அவர்களின் ஆதரவுடன், அதிசங்கைக்குரிய மொகலிபுத்ததிஸ்ஸ அவர்களின் தலைமையின் கீழ், ஆயிரத்துக்கு மேலான பிக்குகளின் பங்களிப்புடன் நடைபெற்றது. கி. மு. 270 ஆம் ஆண்டில் நடைபெற்ற தம்மசங்கயனவின் பயனாக, மன்னன் தேவநம்பிய திஸ்ஸ அவர்களின் ஆதரவுடன் இலங்கையில் புத்த சாசனத்தை அதிசங்கைக்குரிய மஹிந்த மஹா தேரர் தாபித்தார்.

அரச பரம்பரையைச் சேர்ந்த அரித்தவையும் ஏனையவர்களையும் பௌத்த குருமார்களாக மஹா மஹிந்த தேரர் அபிடேகம் செய்து மஹா விஹாரையைத் தாபித்து, பின்பு உயர் நிலைக் குரு அபிடேகத்தையும் அறிமுகப்படுத்தியதன் விளைவாக புத்த; சாசனம் பாரிய வளர்ச்சியை அடைந்தது. இவ்வாறு தாபிக்கப்பட்ட பிக்குகளின் சமயத்துறை அமைப்பு, மஹா விஹார வன்ச என அழைக்கப்பட்டது.

அனுராதபுரம் மஹா விஹாரையில் தாபிக்கப்பட்ட தேரவாத பிக்குகளின் சமய பணித்துறை அமைப்பு பல தடைகளையும், இடையூறுகளையும், சந்தித்தபோதிலும், அவைகளை வெற்றி கொண்டு, சிங்கள மன்னர்களின் ஆதரவுடன், மஹா விஹாரை வன்சிக, பிக்குகள் அமைப்பு, தம்ம வினாய, மொழிகள், பாரம்பரிய, பழக்க வழக்கங்கள், இலக்கியம், கலை ஆகியனவற்றின் வளர்ச்சிக்கு உதவியதுடன் பௌத்த மதத்தையும், சிங்கள மக்களையும், பிக்குகளின் மடங்களையும் பாதுகாத்து, பௌத்த மதச் சடங்குகள் முறையாகப் பின்பற்றப்படுவதையும் உறுதி செய்தது.



மஹா விஹாரையின் மஹா சங்கத்தினால் வழங்கப்பட்ட சேவைகளின் சிறப்புகளுக்கு பௌத்த சிங்களவர்கள் இன்றும் பின்பற்றி வரும் பௌத்த மத சடங்கு முறைகள் சான்றாக விளங்குகின்றன.

இலங்கையில் புத்த சாசன வரலாறு உயர்ச்சிகளையும், வீழ்ச்சிகளையும் சந்தித்துள்ளது. சில காலங்களில் பௌத்த மதம் எல்லோராலும் ஏற்றுக் கொள்ளப்பட்டுள்ளது. சில காலங்களில் எதிர்ப்புகளுக்கு ஆளாகியுள்ளது. பொலன்னறுவை அரசு காலத்தில் சிங்கள மன்னர்களின் பேராதரவுடன் புத்தசாசனம் பெருமையுடனும், சிறப்புடனும் விளங்கியது.

சீதாவக்கை இராஜசிங்க மன்னனாலும், போர்த்துக்கீசரா லும் நடைமுறைக்கு கொண்டு வரப்பட்ட வெறுக்கத்தக்க சட்டங்களினாலும், அரசியல் பொருளாதார மற்றும் சமூகக் காரணங்களினாலும் சீதாவக்கை அரசு காலத்தில் புத்த சாசனத்திற்கு பாரிய தீங்கு ஏற்பட்டது. பிக்குகளை பெருமளவில் கொன்றமை, புத்தகங்களை அழித்தமை காரணமாக பௌத்த மதம் பாரிய பின்னடைவை அடைந்தது.

வெல்வித்த சரணங்கார சமனேரா புத்த சாசனத்தின் வீழ்ச் சியை கண்ணுற்று, மிகவும் வேதனையும், கவலையும் கொண்டார். அவர் தனது சுய முயற்சியால் ஏனைய மொழிகளையும், பௌத்த மதம் தொடர்பான விடயங்களையும் கற்றறிந்து, பின்டபதத்தை மீள ஆரம்பித்தார். உயர்நிலை குரு அபிடேக முறையை மீளச் செயற்படுத்துமாறு சிங்கள மன்னர்களை இவர் வேண்டியபோதிலும், அவர்களின் ஆதரவு கிடைக்கவில்லை. இறுதியில் கீர்த்தி ஸ்ரீ இராஜசிங்க மன்னன் இவரது வேண்டுகோளுக்கு இணங்கி, சயாம் தேச அயோத்திய புரி மன்னனாகிய பரம தம்மவின் ஆதரவுடன் 1753 எசல பூரணை தினத்தில் உயர்நிலைக் குரு அபிடேக முறையை (உட சம்பத) மீளத் தாபித்தார். அன்றைய தினம், சயாம் தேசத்தி லிருந்து வந்திருந்த உபாலி மஹாதேரர், அஸ்கிரிய விஹாரை யைச் சேர்ந்த பத்து குழுக்களின் பிக்குகளுடன் இணைந்து, வெல்வித்த சரணங்காவேர உட்பட ஐந்து பிக்குகளுக்கு உயர்நிலைக் குரு அபிடேகம் செய்தார். இலங்கையின் பௌத்த மத வரலாற்றில் இந் நிகழ்வு சரித்திர முக்கியத்துவம் பெற்றுள்ளதுடன், பிற்கால தேசிய, சமய, சமூக, கலாசார, கல்வி மேம்பாட்டுக்கு ஒரு மைல்கல்லாகவும் அமைந்தது.

## தொழில்நுட்ப விவரங்கள்

| | | |
|---|---|---|
| வெளியிடும் திகதி | : | 13 யூலை, 2003 |
| இனப்பெறுமதி | : | ரூபா 4.50 |
| வடிவமைப்பாளர் | : | பாலித குணசிங்க |
| முத்திரை அளவு | : | 41 X 30 மி.மீ. |
| வடிவம் | : | கிடையானது |
| அச்சீட்டு செயல்முறை | : | எதிர்ப்படி கல்லச்சுமுறை. |
| தாளமைப்பு | : | தாளொன்றுக்கு 100 முத்திரைகள் |
| துளையீடு | : | 14 |
| அச்சாளர்கள் | : | அரசாங்க அச்சுத் திணைக்களம், இலங்கை. |
| பாவிக்கப்பட்ட நிறங்கள் | : | 4 நிறங்கள் |
| தாள் | : | 102 ஜி. எஸ். எம். பாதுகாப்பான முத்திரைத்தாள் |
| பசை | : | பிவிஏ |
| அச்சடித்த தொகை | : | 10,00,000 |



Department of Posts,
Transworks House,
Colombo 00100.

The Philatelic Bureau of the Department of Posts will issue a new postage stamp in the denomination of Rs. 4.50 on 13th July on behalf of Malwatta, Chapter as part of the commemorative events being organised to celebrate 250 years of Higher Ordination in Sri Lanka.

The third Dhamma Sanghayana was held in Pataliputtra with the royal patronage of King Deepa Chakrawarthi Dharmasoka, the honoured participation of the Most Reverend Moggaliputtatissa and over a thousand Bhikkus. As a result of the Dhammasangayana held in the year 270 B. C., the Most Reverend Mahinda Maha Thera established the Buddha Sasana in Sri Lanka with the royal patronage of King Devanampiyatissa.

With the establishment of the Maha Vihara by Maha Mahinda Thera by ordaining Arittha and others of royal birth and later conferring Higher Ordination, the Buddha Sasana in Sri Lanka bloomed. The Bhikku Order thus established was called Maha Vihara Vansa.

The Theravada Bhikku Order at the Maha Vihara, Anuradhapura faced numerous setbacks, but overcoming all these obstacles the Maha Vihara Vansika Bhikku Order, under the patronage of the Sinhala Kings, helped in the development of Dhamma Vinaya, languages, customs, literature the arts monastries and the protection of the Sinhala community, as well as protecting Buddhism and performing all Buddhist rituals.

The perfection and following of Buddhist rituals by Sinhala Buddhists is testimony enough to the success of the service rendered by the Maha Sangha of Maha Viharaya.

The history of Buddha Sasana in Sri Lanka is interlaced with ups and downs. There were times when it was accepted by all and sundry and times when it was not well received. Buddha Sasana, under the benign influence of the Sinhala Kings flourished during the Polonnaruwa era.

As a result of the despicable laws enforced by King Sitawaka Rajasinghe and the Portuguese as well as other political,economic and social factors much harm befell on Buddha Sasana during the reign of King Sitawaka. The slaughter *en-masse* of Bhikkus and the wanton destruction of books caused a great disaster to Buddha Sasana during this period.

Veliwita Saranankara Samanera, who fell into a state of deep depression at the downfall of Buddha Sasana, threw himself into the study of languages and other related subjects and restarted Pindapatha. He approached the Sinhala Kings to re-establish Higher Ordination in Sri Lanka,but without success. He eventually prevailed upon King Keerthi Sri Rajasinghe, who, with the blessing of King Parama Dhamma of Ayodhyapura in Siyamdesa, succeeded in bringing Higher Ordination (Upasampada) to Sri Lanka on Esala Full Moon Day 1753. On this day Upali Maha Thera of Siam with the Bikkhus of ten other clans of the ecclesiastical territory (Seema Maluwa) attached to Asgiriya Vihara, five Samaneras, including Veliwita Saranankara were conferred Higher Ordination. This unique event in Sri Lanka Buddha Sasana was a landmark in the national,religious, social, cultural and educational standards of the country.



## Technical Details

| | | |
|---|---|---|
| *Date of Issue* | : | 13th July, 2003 |
| *Denomination* | : | Rs. 4.50 |
| *Designer* | : | Palitha Gunasinghe |
| *Stamp Size* | : | 41x 30 mm. |
| *Format* | : | Horizontal |
| *Printing Process* | : | Offset Lithography |
| *Sheet Composition* | : | 100 stamps per sheet |
| *Perforations* | : | 14 |
| *Printers* | : | Department of Government Printing, Sri Lanka |
| *Colours (used)* | : | 4 Process Colours |
| *Paper* | : | 102 gsm. Security Stamp Paper |
| *Gum* | : | PVA |
| *Quantity Printed* | : | 1,000,000 |